008423



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2557 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2013 (2014)** **S 4**

**(04) බෞද්ධ සංස්කෘතිය**

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **හතරකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න **එකක්** වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

**I කොටස**

1. (අ) ලෝකපාලක ධර්ම හඳුන්වා ඒ මත සදාචාර ලෝකයේ පැවැත්ම රඳා පවත්නා ආකාරය දක්වන්න. (ලකුණු 06 යි)

(ආ) සංසාර විමුක්තිය උදෙසා බුදුරජාණන් වහන්සේ අනුදැන වදාළ ක්‍රියාමාර්ගය හා මධ්‍යම ප්‍රතිපදාව අතර පවත්නා සම්බන්ධතාව විස්තර කරන්න. (ලකුණු 06 යි)

(ඉ) චතුපාරිශුද්ධි ශීලය පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

2. (අ) ගෘහස්ථයන් විසින් සමාදන් වීමට යෝග්‍ය සේ දැක්වෙන විවිධ ශීල ප්‍රභේද කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)

(ආ) "බෞද්ධ ගිහියාගේ හා පැවිද්දාගේ අරමුණ ලෙස සැලකෙන්නේ සංසාර විමුක්තිය වුවත් මේ දෙපක්ෂයේ කාර්ය භාරය අතර වෙනසක් දක්නට ලැබෙයි." විමසන්න. (ලකුණු 06 යි)

(ඉ) බුදුරජාණන් වහන්සේ ස්වකීය ශ්‍රාවකයන් උදෙසා ශික්ෂාපද පැනවීමේ දී ඉදිරිපත් කළ හේතු කවරේ දැයි පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

3. (අ) ආදර්ශ වත් භික්ෂුවකගේ ආරාමික ජීවිතයට අදාළ දෛනික චාරිත්‍ර විධි කෙටියෙන් දක්වන්න. (ලකුණු 06 යි)

(ආ) දන් වැළඳීමේ දී භික්ෂූන් වහන්සේ මෙනෙහි කළ යුතු ප්‍රත්‍යවේක්ෂාව හඳුන්වා එමගින් භික්ෂු ජීවිතයෙහි උත්කෘෂ්ට භාවය හෙළි වන ආකාරය දක්වන්න. (ලකුණු 06 යි)

(ඉ) භික්ෂූන් වහන්සේගේ දන් වැළඳීමට අදාළ සිරිත් බෞද්ධ ගිහියන්ට පවා වැදගත් වන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

**II කොටස**

4. (අ) ගෙඩිගෙවල් තැනීමේ අරමුණු හඳුන්වා දෙමින් ලංකාවේ පිහිටි පැරණි ගෙඩිගෙවල් **දෙකක්** ගැන විස්තර සපයන්න. (ලකුණු 06 යි)

(ආ) පධානඝර යනු කවරේ දැයි පැහැදිලි කරමින් ඒවායේ වාස්තු විද්‍යාත්මක ලක්ෂණ විභාග කරන්න. (ලකුණු 06 යි)

(ඉ) උපෝෂථාගාර මගින් අපේක්ෂිත කාර්ය භාරය දක්වා ලංකාවේ පැරණි උපෝෂථාගාර **දෙකක්** ගැන විස්තර කරන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

**5.** (අ) බුදුපිළිම නෙළීමේ ආරම්භය ගැන විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

(ආ) බුදුරජාණන් වහන්සේගේ කවර ඉරියවු බුදුපිළිම මගින් නිරූපණය වන්නේ දැයි දක්වා යථෝක්ත ඉරියවු වෙන් වශයෙන් විදහා දැක්වෙන පැරණි ශ්‍රී ලාංකේය බුදුපිළිම **තුනක්** ගැන තොරතුරු සපයන්න. (ලකුණු 06 යි)

(ඉ) බුදුපිළිම මගින් නිරූපිත මුද්‍රාවල පවත්නා වැදගත්කම පැහැදිලි කොට පැරණි ශ්‍රී ලාංකේය බුදුපිළිම **තුනක්** තෝරාගෙන ඒවායේ මුද්‍රා ගැන විමසීමක් කරන්න. (ලකුණු 08 යි)

## III කොටස

**6.** (අ) බුදුරජාණන් වහන්සේගේ නව අරහාදි බුදුගුණ පාදක කොට ගෙන ගද්‍ය ග්‍රන්ථ රචනා කළ පැරණි සිංහල සම්භාව්‍ය ලේඛකයන් හා ඔවුන්ගේ කෘති ගැන විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

(ආ) ත්‍රිවිධ චෛත්‍ය ඉතිහාසය වස්තු කර ගනිමින් සිංහල සාහිත්‍ය ග්‍රන්ථ රචනා කළ පැරණි ලේඛකයන් **තිදෙනෙකු** හා ඔවුන්ගේ කෘති පිළිබඳ ව සමාලෝචනයක් කරන්න. (ලකුණු 06 යි)

(ඉ) ජාතක කථා වස්තු කොට ගෙන රචිත පැරණි සිංහල සම්භාව්‍ය පද්‍ය කාව්‍ය **හතරක්** හා ඒවායේ කතුවරුන් ගැන තොරතුරු සපයන්න. (ලකුණු 08 යි)

**7.** (අ) අභිමත ජාතක කථාවක් ආශ්‍රයෙන් ජාතක කථාවල දක්නට ලැබෙන උපදේශාත්මක ලක්ෂණ පිළිබඳ ව හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි))

(ආ) බුදුගුණ වර්ණනා කෙරෙන කෘතියක් වශයෙන් බුදුගුණාලංකාරයෙහි පවත්නා වැදගත්කම පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ඉ) "පැරණි සිංහල ගද්‍ය කවීන්ගේ අරමුණ වූයේ ශබ්ද රසයෙන් අනූන භාෂා ශෛලියක් යොදා ගනිමින් සැදැහැත්තන්ගේ සිත් ගන්නා ආකාරයෙන් බණ කතා ඉදිරිපත් කිරීමයි." අභිමත සිංහල ගද්‍ය කෘතියකින් තෝරා ගත් එක් කථාවක් පාදක කොට ගෙන මේ අදහස විභාග කරන්න. (ලකුණු 08 යි)

## IV කොටස

**8.** (අ) මියන්මාරයේ (බුරුමයේ) ඇති වූ සීහළ සංඝ සමාජය ගැන හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)

(ආ) 12 වන සියවසේ දී ශ්‍රී ලංකාව හා මියන්මාරය (බුරුමය) අතර ඇති වූ යුද්ධය පිළිබඳ ව විස්තරයක් සපයන්න. (ලකුණු 06 යි)

(ඉ) මියන්මාරයේ (බුරුමයේ) මාර්ගෝපදේශකත්වය යටතේ 19 වන සියවසේ දී ලක්දිව අමරපුර නිකාය පිහිටුවීම පිළිබඳව තොරතුරු ඉදිරිපත් කරන්න. (ලකුණු 08 යි)

**9.** (අ) ශ්‍රී ලංකාව හා තායිලන්තය අතර පැවති සබඳතා හෙළි වන අවස්ථා **තුනක්** දක්වන්න. (ලකුණු 06 යි)

(ආ) බුදුදහම චීනයට හඳුන්වා දෙනු ලැබූ කාලයේ දී එහි පැවති ආගමික පසුබිම ගැන හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)

(ඉ) ජපානයේ පැතිර ගිය සෙන් බෞද්ධ සම්ප්‍රදාය ගැන විස්තරයක් කරන්න. (ලකුණු 08 යි)

***